# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

කාලය පැ. 3 යි.

( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.)

### I කොටස

01. i. අ) පුරාණ තෙරණුවන් ධර්ම ගුප්තික හා මහිසාංසික යන දෙනිකායේ ම පිළිගැනීමට පාත්‍ර වුයේ කවරකු වශයෙන්ද?

..................................................................................................................

..................................................................................................................

ආ) ප්‍රථම ධර්ම සංගීතයෙන් පසු පුරාණ තෙරණුවන් මහාකාශ්‍යප හිමියන් සමග ඇති කර ගත් එකගතාව කුමක්ද?

..................................................................................................................

..................................................................................................................

ii. අ) අලුත් විනය නීති නොපැවැත්වීමත් බුදුරදුන් පැනවූ ශික්ෂා පද සියල්ල නොවෙනස්ව තබා ගැනීමත් පාදක කොට ගෙන ප්‍රථම ධර්ම සංගායනාවේදී පිළිගත් සංරක්ෂණවාදී සම්මුතිය නිසා වෙන ධර්ම සංගායනාවේදී භික්ෂූන් අතර මතු වූ ගැටලුව කුමක් ද?

..................................................................................................................

ආ) දෙවන ධර්ම සංගායනාවේ දී සංරක්ෂණවාදී සම්මුතියට පටහැනිව සංශෝධනවාදී පිළිවෙත අනුගමනය කළ භික්ෂූන් හැඳින්වූයේ කවර නමකින් ද?

..................................................................................................................

iii. අ) රහත් බව හීන අධිගමයක් ලෙස දැක්වීමෙන් තහවුරු කිරීමට ඉදිරපත් කල පාර්ශවයේ නායකයා වුයේ කවරෙක් ද?

..................................................................................................................

ආ) රහත් බව හීන අධිගමයක් ලෙස දැක්වීමෙන් තහවුරු කිරීමට උත්සාහ ගෙන ඇත්තේ කෙබඳු මහායාන සංකල්පයක් ද?

..................................................................................................................

iv. අ) වාත්සීපුත්‍ර හිමියන් ඉදිරපත් කළ නව මතය කුමක්ද?

..................................................................................................................

ආ) මේ මතයට විරුද්ධව කරුණු ඉදිරිපත් කළ තෙරවරුවගේ අදහස් හා ඒවා තහවුරු කිරීමට රචිත ග්‍රන්ථයේ නම ඉදිරිපත් කරන්න.

..................................................................................................................

v අ) තාරානාථ තෙරණුවන්ගේ වාර්තා අනුව තෙවන ධර්ම සංගායනාවේ දී ශාසනයෙන් නෙරපා දැමූ අය පැවිද්දන් වශයෙන් ජිවත් වූ ප්‍රදේශ මොනවා ද?

..................................................................................................................

..................................................................................................................

ආ) අශෝක රජුගේ ධර්මයාත්‍රා වන්දනා ගමනේ දී මාර්ගොපදේශකත්වය ලබා දුන්නේ කවරෙක්ද?

..................................................................................................................

..................................................................................................................

vi. අ) "පුද්ගල සංකල්පය" යනු කුමක්ද?

..................................................................................................................

ආ) ස්ථවිරවාදයෙන් බිඳී ගිය නිකාය අතර බුද්ධ පූජා හා ස්තූප පූජා ගැන ප්‍රියමානාතාවයක් දැක්වූ නිකාය කුමක්ද?

..............................................................................................................................................................

vii. අ) බුද්ධඝෝෂ හිමියන් මනෝරථපූරණී නම් අටුවා ග්‍රන්ථය ලියුවේ කවර නිකාය ග්‍රන්ථයක් උදෙසා ද?

..............................................................................................................................................................

ආ) මේ අටුවා ග්‍රන්ථය ලිවීමට ආරාධනා කළෝ කවරහුද?

..............................................................................................................................................................

viii. අ) ජලද්දලා විශ්ව විද්‍යාලව ගොඩ නැංවූ රජතුමා හා ඔහු අයත් රජ පෙළපත නම් කරන්න.

..............................................................................................................................................................

..............................................................................................................................................................

ආ) මේ විශ්ව විද්‍යාලයේ අධ්‍යාපන පටිපාටියෙහි ප්‍රමුඛස්ථානයක් හිමි වූයේ කවර විෂයක් සඳහා ද?

..............................................................................................................................................................

ix. අ) ක්‍රි.ව.11 වන සියවසේ දී ශ්‍රී ලංකාවට පැමිණි භික්ෂූන් දෙනම නම් කරන්න.

..............................................................................................................................................................

ආ) මේ භික්ෂූන් දෙනම පැමිණෙද්දී ශ්‍රී ලංකාවේ රාජ්‍ය කරවූ රජතුමා කවරෙක් ද?

..............................................................................................................................................................

x. අ) බුදු පිළිම නෙලීම ආශ්‍රිතව පැතිර ගිය කලා සම්ප්‍රදාය කෙතෙක් දැයි නම් කරන්න.

..............................................................................................................................................................

..............................................................................................................................................................

ආ) අනුරාධපුර පන්කුලියේ අශෝකාරාමයේ බුදු පිළිමයෙන් නිරූපණය වන්නේ කවර මුද්‍රාවක් ද?

2321

# 2558 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

S 4

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) පාරමිතා යන්නෙන් අදහස් කෙරෙන්නේ කුමක් දැයි දක්වන්න. (ලකුණු 06 යි)
   (ii) මහායාන පාරමිතා කවරේ දැයි හඳුන්වන්න. (ලකුණු 06 යි)
   (iii) ථෙරවාදයට අයත් පාරමිතා මහායානයෙන් වෙනස් වන්නේ කෙසේ දැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

3. (i) ධර්ම සංගායනා පැවැත්වීමේ මූලික අරමුණු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (ii) සංඝ සමාජයේ මතභේද ඇති කිරීමෙහි ලා ධර්ම සංගායනා කොතෙක් දුර හේතුවී ඇත් දැයි පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)
   (iii) ශාසන ඉතිහාසයේ විශේෂ ස්ථානයක් තෙවන ධර්ම සංගායනාවට හිමි වන ආකාරය තහවුරු කිරීමට අදාළ සාධක කවරේ දැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

4. (i) භාරතයේ පැවති පැරණි බෞද්ධ විශ්ව විද්‍යාලවලින් එකක් ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)
   (ii) ඔබේ හැඳින්වීමට පාත්‍ර වූ විශ්ව විද්‍යාලයේ ඉගැන්වූ විෂය ධාරාව ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) වර්තමාන උසස් අධ්‍යාපන ක්‍රමවලට වඩා මේවායේ පැවති අධ්‍යාපන ක්‍රමවල දැකිය හැකි විශේෂතා මොනවා දැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

5. (i) ප්‍රාග් බෞද්ධ යුගයේදී ශ්‍රී ලාංකික සමාජය තුළ කිසියම් ආකාරයක සංස්කෘතික දියුණුවක් පැවති බවට ඉදිරිපත් කළ හැකි සාධක කවරේ දැයි විජයාගමනයේදී දක්නට ලැබුණු විශේෂ සිදුවීම් ආශ්‍රයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (ii) මහින්දාගමනයට පෙර පවා ශ්‍රී ලාංකිකයන් කෘෂිකර්මය, ලේඛන කලාව හා ගෘහනිර්මාණ ශිල්පය අතින් දියුණු තත්ත්වයක සිටි බවට ඉදිරිපත් කළ හැකි සාධක කවරේ දැයි පිරික්සන්න. (ලකුණු 06 යි)
   (iii) "දේවානම්පියතිස්ස රාජ්‍ය සමයේදී ශ්‍රී ලංකාවට සම්ප්‍රාප්ත වූයේ හුදෙක් ආගමික විශ්වාස සමූහයකට වඩා පුළුල් එලදායී සංස්කෘතික බලවේගයකි." මේ අදහස විමසීමට ලක් කරන්න. (ලකුණු 06 යි)

6. (i) ශ්‍රී ලාංකිකයන් අතර ආගමික සහජීවනය ඇති කිරීමෙහිලා පණ්ඩුකාභය රජතුමාගෙන් ඉටු වූ සේවය ඇගයීමට ලක් කරන්න. (ලකුණු 06 යි)
   (ii) ප්‍රාග් බෞද්ධ යුගයේ සිටම ශ්‍රී ලාංකික සමාජයෙහි බ්‍රාහ්මණයින්ට සුවශේෂ ස්ථානයක් හිමිව පැවති ආකාරය විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)
   (iii) "යක්ෂයින් ජනතාවට ඉතා සමීපව ක්‍රියා කළ ආකාරය ප්‍රාග් බෞද්ධ යුගයේ ශ්‍රී ලංකාවේ පැවැති යක්ෂ ඇදහිල්ල මගින් අනාවරණය වේ." විමසන්න. (ලකුණු 06 යි)

7. (i) මෙරට ස්වෛරීභාවය ආරක්ෂා කිරීම මෙන්ම බුදුසමයේ පැවැත්ම ද උදෙසා වළගම්බා රජුගෙන් ඉටුවූ සේවය ඇගයීමට ලක් කරන්න. (ලකුණු 06 යි)
   (ii) මහින්දාගමනයත් සමග ශ්‍රී ලංකාවේ ආරම්භ වූ සාංඝික ක්‍රමය වළගම්බා රාජ්‍ය සමයේ සිට නව මුහුණුවරක් ගත් ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) අනුරාධපුර යුගයේදී ලක්දිව භික්ෂු සංස්ථාව තුළ ඇති වූ ප්‍රධාන නිකාය ගැන විමර්ශනයක් කරන්න. (ලකුණු 06 යි)

8. (i) ත්‍රිවිධ බෞද්ධ චෛත්‍යයන්හි ආරම්භය පිළිබඳ හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)
   (ii) බුදුරදුන් ජීවමාන අවදියේදීම බෞද්ධ ස්තූප නිර්මාණය පැවැති බවට ඉදිරිපත් කළ හැකි සාධක විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)
   (iii) ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන විවිධ ස්තූප වර්ග (ආකෘති) කවරේ දැයි නිදසුන් මගින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

***